සත්‍යය සංඛ්‍යාත තෘෂ්ණාව ස්වසන්තානයෙන් බැහැර කිරීම **ප්‍රහාණ කෘත්‍යය යි**. සාක්ෂාත්කරණය නිරෝධ සත්‍යය පිළිබඳ වූවකි. නිරෝධ සත්‍යය සංඛ්‍යාත නිර්වාණය ප්‍රත්‍යක්ෂ කර ගැනීම් වශයෙන් ලබා ගැනීම **සාක්ෂාත් කරණය යි**. භාවනා කෘත්‍යය මාර්ග සත්‍යය පිළිබඳ වූවකි. මාර්ගාංග ධර්මයන් ලෝකෝත්තරත්ත්වයෙන් ස්වසන්තානයෙහි පහළවන තෙක් දියුණු කිරීම මාර්ග සත්‍යය පිළිබඳ භාවනා කෘත්‍යය යි. මේ චතුරාර්‍ය්‍ය සත්‍ය ධර්මය ආදරයෙන් දැන උගෙන පරිඥා ප්‍රහාණාදි සත්‍ය කෘත්‍යයන් ද කොට නිමවා සියල්ලෝ ම සසර දුකින් මිදෙත්වා!

මේ චතුරාර්ය සත්‍ය ධර්ම වර්ණනාව සම්පාදනය කිරීමෙන් අප විසින් අත්පත් කර ගන්නා ලද පුණ්‍ය ස්කන්ධයාගේ ආනුභාවයෙන් සියලු සත්ත්වයෝ ම සසර දුකින් මිදී උතුම් නිවන් පුරයට පැමිණෙත්වා!

**චතුරාර්‍ය්‍ය සත්‍ය වර්ණනාව නිමියේ ය.**